# 2556 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2011(2012)

**S 3**

## (03) අභිධර්මය

(ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.)

### II කොටස

2. (i) "නිප්පරියාය දේසනා" යන්න උදාහරණ සහිත ව විස්තර කරන්න. (ලකුණු 05 යි)
   (ii) අභිධර්මය පිළිබඳ ව පවත්නා විවිධ සම්ප්‍රදායයන් අතුරින් ථෙරීය විභජ්ජවාදී සම්ප්‍රදාය පිළිබඳ ව හැඳින්වීමක් කරන්න. (ලකුණු 06 යි)
   (iii) "ධම්මසංගණිප්පකරණ" පිළිබඳ ව එහි ඇතුළත් මූලික කරුණු පදනම් කරගනිමින් විස්තරයක් කරන්න. (ලකුණු 07 යි)

3. (i) "අරමුණු විජානනය කිරීම සිතේ ලක්ෂණයයි." යන්න උදාහරණ සහිත ව පැහැදිලි කරන්න. (ලකුණු 05 යි)
   (ii) රූප පරමාර්ථය පිළිබඳ ව මූලික ප්‍රභේද දක්වමින් හැඳින්වීමක් කරන්න. (ලකුණු 06 යි)
   (iii) "කාමශෝභන සිත්" යන්න හඳුන්වා, එම සිත් සංඛ්‍යාව මූලික ප්‍රභේද සහිත ව දක්වන්න. (ලකුණු 07 යි)

4. (i) "සබ්බේ සංඛාරා අනිච්චා" යන ගාථාව සම්පූර්ණ කර ලියන්න. එහි සරල අර්ථය දක්වන්න. (ලකුණු 05 යි)
   (ii) එම ගාථාවේ දැක්වෙන "සංඛාර" සහ "අනිච්ච" යන වචන පිළිබඳ ව ධර්මානුකූල විස්තරයක් කරන්න. (ලකුණු 06 යි)
   (iii) කර්ම, කර්ම නිමිති, ගති, ගති නිමිති යන්න පිළිබඳ ව කුසල - අකුසල යන සංකල්ප ඇසුරු කරගනිමින් වෙන් වෙන්ව හඳුන්වන්න. (ලකුණු 07 යි)

5. (i) කුසලමූල නම් කරන්න. "ඤාණ සම්ප්‍රයුක්ත" යන්න හඳුන්වා ඤාණ සම්ප්‍රයුක්ත කුසල් සිත් ඇතිවීමට බලපාන කරුණු දක්වන්න. (ලකුණු 05 යි)
   (ii) පළමු හා දෙවැනි කාමාවචර මහා කුසල් සිත් **දෙක** ලියන්න. එම සිත් දෙක පිළිබඳ ව සංසන්දනාත්මක ව පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)
   (iii) පුද්ගලයාගේ ආධ්‍යාත්මික සංවර්ධනයට කුසලමූල උපකාරී වන අයුරු පැහැදිලි කරන්න. (ලකුණු 07 යි)

6. (i) දෙපනස් චෛතසික රාශි වශයෙන් දක්වා ඇති මූලික ප්‍රභේද නම් කර, එම ප්‍රභේදවලට අයත්වන චෛතසික සංඛ්‍යාව දක්වන්න. (ලකුණු 05 යි)
   (ii) "බ්‍රහ්ම විහරණ" නම් කර, ඒවා සෝභන චෛතසික රාශියේ ඇතුළත්ව ඇති ආකාරය පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)
   (iii) "බ්‍රහ්ම විහරණ" සමඟ අදාළ වන චෛතසික යහපත් සමාජ සම්බන්ධතා පවත්වා ගැනීමේ දී ඉවහල් වන ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 07 යි)

7. (i) "පංච උපාදානස්කන්ධය" පිළිවෙළින් නම් කර, එයින් සිවුවැන්න පිළිබඳ ව හැඳින්වීමක් කරන්න. (ලකුණු 05 යි)
   (ii) චතුර්විධ විපල්ලාස නම්කර, ඒවා පුද්ගලයාට යථාර්ථය දැකීමට බාධාවන ආකාරය පහදන්න. (ලකුණු 06 යි)
   (iii) "ව්‍යාපාදය" හඳුන්වා, එය පුද්ගල හා සමාජ පරිහාණියට හේතු වන අයුරු පෙන්වා දෙන්න. (ලකුණු 07 යි)

8. (i) "අනුසය ධර්ම" යන්න හඳුන්වා, එම අනුසය ධර්ම පිළිවෙළින් නම් කරන්න. (ලකුණු 05 යි)
   (ii) "මාන අනුසය" පිළිබඳ ව විස්තරයක් කරන්න. (ලකුණු 06 යි)
   (iii) "අනුසය ධර්ම, පුද්ගල පරිහානියට හේතුවේ." මේ අදහස උදාහරණ දක්වමින් සනාථ කරන්න. (ලකුණු 07 යි)

9. (i) "සීලේ පතිට්ඨාය, සීලං නිස්සාය, චත්තාරෝ සතිපට්ඨානේ භාවෙය්‍යාථ" යන පාඨයේ සරල අදහස දක්වා, සතර සතිපට්ඨානය පිළිවෙළින් නම් කරන්න. (ලකුණු 05 යි)
   (ii) සීලය යන්න හඳුන්වා, කෙලෙස් සක්‍රියවීම හෙවත් "වීතික්කම" අවස්ථාව සමඟ එහි ඇති සම්බන්ධතාව පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)
   (iii) පුද්ගලයාගේ ආධ්‍යාත්මික ජීවිතය සහ සමාජ ජීවිතය අර්ථවත් කිරීමට සීලය ඉවහල්වන අයුරු පෙන්වා දෙන්න. (ලකුණු 07 යි)

***